රුසියානු මහා කවි

ව්ලදිමීර් මයාකෝව්ස්කි

# ප්‍රදීපාගාරය



රුසියානු මහා කවි
# ව්ලදිමීර් මයාකෝව්ස්කි

# ප්‍රදීපාගාරය

චිත්‍ර
යූ.කරෝවින්

අනුවාදය


ISBN 978-955-0230-17-4

නව පරිගණක සකැසුම
මාලක ලලනජීව

මුද්‍රණය

ප්‍රකාශනය

**අගහස් ප්‍රකාශන**
717/2, මාදින්නාගොඩ, රාජගිරිය.

ප්‍රථම මුද්‍රණය 2013



රුසියානු මහා කවි

## ව්ලදිමීර් මයාකෝව්ස්කි

# ප්‍රදීපාගාරය



චිත්‍ර

**යූ.කරෝවින්**

අනුවාදය

**රන්ජන දේවමිත්‍ර සේනාසිංහ**



**අගහස් ප්‍රකාශන**

717/2, මාදින්නාගොඩ, රාජගිරිය.

# ව්ලදිමීර් මයාකෝව්ස්කි

මේ නමින් හැඳින්වෙන්නේ 20 වැනි සියවසේ රුසියාවේ වාසය කළ සාහිත්‍යධරයෙක්. ඔහු නාට්‍යවේදියෙක්, චිත්‍රපට තිර රචකයෙක්, චිත්‍රපට අධ්‍යක්ෂවරයෙක් හා නළුවෙක්, චිත්‍ර ශිල්පියෙක් හා සඟරා සංස්කාරකවරයෙක්. එහෙත් ලෝකයේ ජනයා අතර ඔහු වැඩියෙන් ප්‍රකට වුණේ සමාජවාදී අදහස් ඇති, විප්ලවකාරී කවියකු හැටියට.

1893 දී ඔහු උපත ලද්දේ රුසියානු අධිරාජ්‍යයේ බග්දාති කියන නගරයේ. එය අයත් වන්නේ දූන් ජෝර්ජියාව ලෙස හැඳින්වෙන රටටයි. ඔහුට සහෝදරියන් දෙදෙනෙක් හා සහෝදරයින් දෙදෙනෙක් සිටියා. සහෝදරයින් දෙදෙනා කුඩා කාලයේ දී ම ලෙඩරෝග හැදිලා මියගියා. කවියාගේ වයස අවු. 13 දී ඔහුගේ පියාත් ගිලන් වී මියගියා. පස්සේ ඔවුන් මොස්කව් නුවරට පැමිණියා. මයාකෝව්ස්කි මොස්කව්හි පාසැලකට ඇතුළු කළත් ගාස්තු ගෙවාගන්නට බැරිවීම නිසා ඔහු පාසැලෙන් ඉවත් කෙරුණා. 1908 දී දේශපාලන කටයුතුවල නියැලෙන්නට පටන් ගන්නා ඔහු ඒ නිසාම නොයෙක් තාඩනපීඩනවලට ලක් වෙනවා. සිරගතව සිටියදී කවි ලියන්න පටන් ගන්න මයාකෝව්ස්කි ඉන් නිදහස් වූ පසු චිත්‍රශිල්පියකු ලෙස පුහුණුව ලබනවා. ඔහුගේ කලා ජීවිතය ආරම්භ වන්නේ ඒ ආකාරයෙන්.

මේ කවියා ගැන ඔහු ජීවත් ව සිටි කාලයේ ම පුරාවෘත්ත ගොඩනැඟුණා. ඉන් එකක කියැවුණේ, සෝවියට් දේශය නමැති සමාජවාදී රටේ සද්දන්ත යෝදයෙක් ඉන්නා බවත් ඔහු කවි කියනා බවත් ඔහු රතු නැවක පිහිටි කපිතාන්ගෙ අණදෙන කුටියට නැගිලා කියන කවි මහ මුහුදුවලින් එතෙර ඈත රටවලටත් සෝවියට් දේශය රකිමින් මුර සංචාරය කරන නෞකාවලටත් ඇසෙන බවත් ඒ අසන නැවියන් සෝවියට් දේශයේ හතුරන් පළවා හරින්නට යුහුසුලු වන බවත්.

මයාකෝව්ස්කි කවියාගේ ශරීර ප්‍රමාණ ගැන කල්පනා කරන විට සැබැවින් ම ඔහුට තිබුණේ යෝධයකුගේ පෙනුමක්. ඔහු ඉතා ම උසයි. ඔහුගේ උරහිස් හරිම පළලයි. ඔහු දුවැන්ත, ශක්තිමත් පුද්ගලයෙක් වුණා. ඔහුගේ කට හඬේ තිබුණේ අසාමාන්‍ය බලයක් හා අලංකාරයක්. එනිසා පැය ගණන් පුරා ඔහු කවි කියනවා අහගෙන ඉන්න මිනිසුන් රැස් කකා සිටි බව සඳහන් වෙනවා. දේශපාලනයෙදි පමණක් නොවෙයි, කවියෙදිත් ඔහු පෙරළිකාරයෙක් වුණා. ඒ, සම්භාව්‍ය කවිය විසින් නොපිළිගත් ගැමි වදන් කවියට ඇතුළත් කරමින් සහ අලුත් කාව්‍ය විරිත් භාවිතයට ගනිමින්. ඒ නිසා ඔහු විවේචනයටත් බඳුන් වුණා.

මයාකෝව්ස්කි කවියා ජීවත් වුණේ ඉතාම කෙටි කාලයයි. අවුරුදු 36ක් පමණයි. 1930 දී මිය යන මේ කවියාගේ සැමරුම් නිමිත්තෙන් සෝවියට් සංගමය හා රුසියාව විසින් තැපැල් මුද්දර ගණනාවක් නිකුත් කර තිබෙනවා. ඒ වගේම ඔහුගේ නමින් මංමාවත්, උමං දුම්රිය ස්ථාන, නගර හා චතුරශ්‍ර නම් කෙරුණා. රුසියාව විසින් මෑතක නිකුත් කරන ලද කාසියකත් ඔහුගේ රුව යොදා තිබුණා. ඔහු වෙනුවෙන් ඉදිකෙරුණු පිළිම ප්‍රතාපවත් ලෙසින් අදත් නැඟී සිටිනවා.

මේ කවියා සැරපරුෂ පෙනුමෙන් යුතු වුවත් ඔහුට තිබුණේ බොහෝම මටසිලිටි, කරුණාවන්ත හදවතක්. ඒ නිසා සෙසු සියලු කලා කටයුතුවල නියැලෙන අතරවාරයේ පොඩිත්තන් වෙනුවෙන් ලියන්නත් ඔහු කොහොම හරි කාලය සොයා ගත්තා. සිඟිත්තන් වෙනුවෙන් මයාකෝව්ස්කි කවියා ලියූ කුඩා පොත් පිංචක් තමයි අද මේ ඔබට ඉදිරිපත් කෙරෙන්නෙ. රුසියානු බසින් මයාකෝව්ස්කි කවියා ලියූ ඒ කවි මෙහි සිංහල බසින් පළ වන්නේ, හැකිතාක් දුරට සිංහල කාව්‍ය සම්ප්‍රදායයට ගැලපෙන ආකාරයෙන් හැඩගස්වාගෙනයි. ඒ, 2013 වසරට යෙදෙන මයාකෝව්ස්කි කවියාගේ 120 වැනි ජන්ම සැමරුම නිමිත්තෙන්.



| | |
|---|---|
| දිය දෙබෑ | කරමින |
| ඇණියෙන් ඇදෙයි දුම් | නැව |
| මාරුත කෝප | ගෙන |
| ඉවත පලවාලයි රුවල් | නැව |

| | |
|---|---|
| බැස ගොසින් හිරු | තෙම |
| අඳුරින් ලොව වෙළුණු | තැන |
| මුහුදෙ නැව් | පැදවුම |
| ලේසි නැත පුත එගැන නොම | දැන |

| | |
|---|---|
| සාගර පත්ලෙ | තැන |
| තැන ගල් කුළු ද | ඇතියෙන |
| වැලි පර සැමත | වන |
| බේරමින් යන ශිල්ප දත | මැන |

රෑ කල ගැන කියුම
පුහු දෙයකි තතු දැන නොම
දවාලට එළැවුම
පවා බෑ අනතුරින් ගැලවුම

දුරදක්නය නෙතේ
තබා බැලුවද දසතේ
කප්පිත්තා නැතේ
තෙරක් දුටුවේ, සිතේ අසිතේ

හදේ තැති ගැන්මකි
වචනයෙන් කිව නොම හැකි
දියේ එත සුළියකි
නැව මූදුබත් විය හැකි



එකෙණෙහිම නැව්යෙක්
දුටුවේ මහත් එළියක්
සිතේ දැඩි සතුටක්
වීය දුටුවෙන් තෙරක ලකුණක්

අඳුර මැද්දෙන් පැන
ආ රතු ඇසකි සැණෙකින
එයින් ඉඟිමරමින
නික්ම යන්නට ගියා විගසින

මොහොතින් එම ඇසම
මතු පණිවිඩය ආයෙම
රැගෙන පැමිණියෙ, හැම
එදැක කරනට වූහ විමසුම:

"මූදෙ සැර බාලයි
මා සිටින තැන නිහඬයි
නැව් තොටුපොළ මෙයයි
පැමිණෙනුව මෙහි, සැමට විවරයි"



එම කුලුනෙහි හැපෙත
චණ්ඩ රළ පෙළ වැලපෙත
උඩ නැඟෙන මං පෙත
දිගේ මිනිසෙක් උඩට නැඟ ගත

ඔහු සෑම රැයකම
නැඟයනු පෙනේ තනිවම
උඩ තිබෙන ඇටවුම
කරා, එය වෙයි යෝධ පන්දම

එහි මහා එළියෙන
අග්නි ජාලා පැරදින
අඳුර දැඩි බිඳගෙන
පැතිර යයි එළි මුහුදු මතුයෙන

සැර මෙවන් එළියක්
දෙන නැත වෙනත් එළියක්
කරකැවී වටයක්
සැමට දිසුමට පාන රඟයක්

මුළු රෑම සිටගෙන
සිලුව නොනිමෙන්නට දෙන
කම්කරුගෙ ශ්‍රමයෙන
පහනෙ සිලුවට තෙල් ය වැගිරෙන

පහනේ ඉදිරිපස
ඇති වීදුරුව නොවලස
අමදී මනා ලෙස
ගින්න වැඩිවීලා පෙනෙන ලෙස

එම ගින්න දකිමින
අනතුරු වේද නැත යන
කරුණ ගැන දැනගෙන
ගනිති තීරණ යනු නොයනු යන

දුම් නැවෙන් දුම් ගුලි
පිටව යන්නට විය යලි
බාගත් රුවල් මැලි
නොවී ඔසවා ගත්හ වහ යලි

නැව් තොටට ආවයි
එහි රළ බොහොම සරලයි
සිතේ දැන් සිසිලයි
මඟ පෙන්නුවේ කුලුනෙ එළියයි

නැත්තෙය මුහුදු රළ
නැත දිය, අකුණු සර පෙළ
දරුවනට සුව සැල
සුව නිසා උන් විසුව අතු පැල

රළෙහි මැර ගතියද
දියෙහි ශීතල ගතියද
අකුණෙ සැඩ ගතියද
කෙසේ නම් අපෙ දරුවො දනිතිද

ඉන් මිදී ගන්නට
පාර කීවේ යන්නට
දිවි බේර ගන්නට
තුති පුදමු අපි 'එළිය කුලුනට'

මෙකවි පොත මහඬින්
කෑගාන එක සිතකින්
ඇත කරුණක් නිතින්
තබා ගත යුතු සිහියෙ මැනැවින්

''වනු'එළිය කුලුනක්'
පෙන්වන සැමට පාරක්
අඳුරෙහි යන මඟක්
නොදැන ළතවෙන අයට සරණක්''

එගැන ඔබ දැනුවත්
කරනු වස් කවි ලිව්වෙත්
කටු සිතුවම් කළෙත්
කවියා මයාකෝව්ස්කි නම් යත්

